සිරිසඟබෝ රජ චරිතයත් අත්තනගලු විහාර විස්තරයත් මෙහි අන්තර්ගත ය. ගද්‍ය සහ පද්‍ය මිශ්‍ර ව රචිත මෙය චම්පූ කාව්‍යයක් සේ සැලකේ.

**ශාසනාවතාරය** - නිකාය සංග්‍රහය ලෙස හඳුන්වන්නේ ද මෙය යි. මෙහි අරමුණ වී ඇත්තේ පස්වන බුවනෙකබා රජුගේ පසළොස්වන රාජ වර්ෂය තෙක් ශාසන ඉතිහාසය විස්තර කිරීම යි. එය ආරම්භ කරන්නේ බුද්ධ පරිනිර්වාණයේ සිට ය. දඹදිව මෙන් ම ලක්දිව ඇතිවූ නිකාය භේද සහ සංගායනා, සංඝ සංශෝධන පිළිබඳ විස්තර මෙහි අන්තර්ගත ය. සද්ධර්මාලංකාර කතු හිමියන්ගේ ම කෘතියක් ලෙස සැලකෙන මෙය ද ශාසන ඉතිහාසය හැදෑරීමට උපකාර වන ඉතිහාසය ග්‍රන්ථයක් ලෙස ද අගය කළ හැකි ය.

**සන්දේශ කෘති** - දැනට විද්‍යමාන සන්දේශ කෘති අතරින් ආදිතම සන්දේශ දෙක තිසර සන්දේශය හා මයුර සන්දේශය යි. මෙයින් වඩාත් පැරණිතර කුමක් ද යන්න මතභේදාත්මක ය. නමුත් වැඩිදෙනා පිළිගන්නේ තිසරය වඩාත් පැරණි බව යි. දැදිගම විසූ පරාක්‍රමබාහු රජුට උපුල්වන් දෙවියන්ගේ අශීර්වාදය ප්‍රාර්ථනා කළ බව දැක්වීමට රචිත තිසර සන්දේශයේ ගමන් මාර්ගය දෙවිනුවර සිට දැදිගම දක්වා ය.

කවීශ්වර පණ්ඩිත නම් අයෙකු විසින් රචිත මයූර සන්දේශය ගම්පොළ සිට දෙවිනුවර උපුල්වන් දෙවියන් වෙත යවන ස්වරූපයෙන් රචනා කර ඇත. ගම්පොළ පස්වන බුවනෙකබාහු රජු ඇතුළු රජ පවුලට සහ සෙන්පතිවරුන්ට දේවාශිර්වාදය ප්‍රාර්ථනා කිරීම මෙහි අරමුණ වී ඇත. පසුකාලීනව සන්දේශ කෘතිවලට බලපා ඇත්තේ මෙම සන්දේශ කෘතින්හි ආභාසය යි.

**කෝට්ටේ යුගය** - හයවන පරාක්‍රමබාහු රජුගෙන් ඇරඹෙන මේ යුගය වසර එකසිය හැටපහ (165) ක් පමණ කාලයක් පැවතෙයි. ගද්‍ය පද්‍ය කෘති රාශියක් මෙකල ලියවී ඇත. මෙහිදී සාහිත්‍ය උනන්තිය සඳහා විශාල සේවයක් ඉටුකොට ඇත්තේ vi පරාක්‍රමබාහු රජතුමා ය. මෙවක රචිත ගද්‍ය ග්‍රන්ථ අතර,

සද්ධර්මරත්නාකරය
එළු අත්තනගලු වංශය (ගම්පොළ යුගයේ ද මෙනමින් කෘතියක් ඇත.)
කඨිනානිශංසය
චූල බෝධි වංශය
කුවේණි අස්න (උත්තර මූල තෙරිඳු)

පංචිකාප්‍රදීප - තොටගමුවේ රාහුල හිමි
කව්ලකුණු මිණිමල්දම
රුවන්මල් නිඝණ්ඩුව - vi පැරකුම්බා රජු
නාමාවලිය - නන්නූර්තුනෛයාර් මිණිසන්නස්

යන කෘතින් ද පැරකුම්බා සිරිත, එළුසිලෝ ශතකය, බුදුගුණ අලංකාරය, ලෝවැඩසඟරාව, දහම්ගැටමාලාව, කාව්‍යශේඛරය, ගුත්තිලකාව්‍ය සහ පරෙවි, සැළලිහිණි, ගිරා, හංස, කෝකිල යන පංචමහා සන්දේශ කෘති ද පද්‍ය සාහිත්‍ය බබළවන මිණිබරණ වැන්න.

වීදාගම මහා මෛත්‍රේය හිමි ආදි වෑත්තෑවේ හිමි, ඉරුගල්කුලතිලක පිරුවන්පති හිමි ආදි යතිවරු ද මෙවක කැපී පෙනෙති. මෙවක වඩාත් ප්‍රකට ව සිටියේ තොටගමුවේ ශ්‍රී රාහුල සංඝරාජ හිමියෝ ය. මේ යුගය සිංහල පද්‍ය සාහිත්‍යයේ ස්වර්ණමය යුගය ලෙස සැලකෙන්නේ ද එවක කවීන්ගේ ඇති සුවිශේෂ හැකියාව නිසා ය.

## i|N|Is;

**"සාහිත්‍ය සංගීත කලා විහීනඃ - සාක්ෂාත් පශුඃ පුච්ඡ විෂාණ හීනඃ**
**තෘණං න ඛාදන්නපි ජීවමානඃ - තද්භාගධේයං පරමං පශූනාම්"**

සාහිත්‍ය සංගීත කලාව ආදියෙන් තොර වූ පුද්ගලයා වලිගය සහ අං නැති තිරිසනකු වැනි ය. ඔහු තණකොළ නොකෑම සැබෑ තිරිසනුන්ගේ වාසනාවකි.

## i|Ñka; k

ඔබ ඉහළ නගින විට අතරමග හමු වන අය අමතක නොකරන්න. ඒ, ඔබ පහළ බසින විට ද ඔවුන් හමු විය හැකි බැවිනි.